# මහා සතිපට්ඨාන සූත්‍රය



පූජ්‍ය වේරගොඩ සාරද මහා ස්ථවිර

# මහා සතිපට්ඨාන සූත්‍රය

## පූජ්‍ය වේරගොඩ සාරද මහා ස්ථවිර

සූත්‍ර දේශනාව

පාලි භාෂාවෙන්



සහ

පාලි / සිංහල භාෂා වලින්



ඇසීමට QR කේතය ස්කෑන් කරන්න



පූජ්‍ය වේරගොඩ සාරද මහා ස්ථිරයන්
වහන්සේ  සිය පියාණන් වන පී. ඒ.
පොඩිසිංඤද්ඤෙදා් උපාසක මහතාට
සහ, සිය මෑණියන් වන පී. පී. එමලිස්හාමි
උපාසිකා මාතාවටත්



පූජ්‍ය වේරගොඩ සුනන්දා භික්ෂුණිය
සිය පියාණන් වන බී. ධර්මදාස උපාසක
මහතා සහ, සිය මෑණියන් වන
එස්. ගුරුසිංහ උපාසිකා මාතාවටත්
පින් පිණිස මුද්‍රණය කර බෙදා හරින ලදි
06. 02. 2025

## සබ්බ දානං ධම්ම දානං ජිනාති



**ජී. ඒ. පොඩිසිංඤද්ඤෙදා් උපාසක මහතාණනි,**
**ජී. ජී. එමලිස්හාමි උපාසිකා මාතාවනි,**
**ඔබට නිවන් සුව ලැබේවා.**

## සබ්බ දානං ධම්ම දානං ජිනාති



බී. ධර්මදාස උපාසක මහතා
14. 12. 1924 - 02. 07. 2003

එස්. ගුරුසිංහ උපාසිකා මාතාව
21. 02. 1929 - 30. 11. 2016

බී. ධර්මදාස උපාසක මහතාණනි,
එස්. ගුරුසිංහ උපාසිකා මාතාවනි
ඔබට නිවන් සුව ලැබේවා.

# පටුන

## මහා සතිපට්ඨාන සුත්තං

මහා සතිපට්ඨාන සූත්‍රය

නමෝ තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස

**එවං මෙ සුතං**

**එකං සමයං භගවා කුරූසු විහරති කම්මාසධම්මං නාම කුරූනං නිගමො තත්‍ර ඛො භගවා භික්ඛූ ආමන්තෙසි භික්ඛවොති භදන්තෙති තෙ භික්ඛූ භගවතො පච්චස්සොසුං භගවා එතදවොච**

මා විසින් මෙසේ අසන ලදී.

එක් කලෙක බුදුරජාණන් වහන්සේ කුරු ජනපදයෙහි වූ කාල්මාෂ්‍යදම්ම නම් වූ කුරු රටවැස්සන් ගේ නියම් ගමෙහි වැඩ වසන සේක. එකල්හි බුදුරජාණන් වහන්සේ භික්ෂූන්ට 'මහණෙනි' යි ආමන්ත්‍රණය කළ සේක.

ඒ භික්ෂූහු 'පින්වතුන් වහන්ස' යයි බුදුරදුන්ට පිළිවදන් දුන්හ. භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක.

**එකායනො අයං භික්ඛවෙ මග්ගො සත්තානං විසුද්ධියා සොක පරිද්දවානං සමතික්කමාය දුක්ඛදොමනස්සානං අත්ථඞ්ගමාය ඤායස්ස අධිගමාය නිබ්බානස්ස සච්ඡිකිරියාය යදිදං චත්තාරො සතිපට්ඨානා**

**කතමෙ චත්තාරො**

මහණෙනි, සත්වයන්ගේ පිරිසිදු බව සඳහාද ශෝකය හා වැළපීම ඉක්මවීම සඳහා ද එකම මගක් තිබේ. දුක් දොම්නස් පහ කිරීම සඳහා ද න්‍යාය නම් වූ ආර්ය අෂ්ටාංගික මාර්ගය අවබෝධ කිරීම සඳහා ද නිවන අවබෝධ කිරීම සඳහා ද මේ සතර සතිපට්ඨානය (එම මාර්ගය වේ.)

කවර සතරක් ද?

## ඉධ භික්ඛවෙ භික්ඛූ කායෙ කායානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං

මහණෙනි, මේ සසුනෙහි භික්ෂුවක් (රූප) කයෙහි කය අනුව බලමින් (කායානුපස්සනා භාවනාවෙහි යෙදී) වාසය කරයි. වීර්යයෙන් නුවණින් හා සිහියෙන් යුතුව ලෝක නම් වූ ශරීරයෙහි දැඩි ලෝභය සහ දොම්නස සංසිඳුවා (වාසය කරයි.)

## වෙදනාසු වෙදනානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං

(සුව දුක් ආදී) වේදනාවන්හි වේදනා අනුව නැවත නැවත බලමින් (වේදනානුපස්සනා භාවනාවෙහි යෙදී) වාසය කරයි. වීර්යයෙන් නුවණින් හා සිහියෙන් යුතුව (වේදනා) ලෝකයෙහි දැඩි ලෝභය හා දොම්නස සංසිඳුවා (වාසය කරයි.)

## චිත්තෙ චිත්තානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං

සිතෙහි සිත අනුව නැවත නැවත (චිත්තානුපස්සනා භාවනාවෙහි යෙදී) බලමින් වාසය කරයි. වීර්යයෙන් නුවණින්

හා සිහියෙන් යුතුව (ලෝක නම් වූ) සිතෙහි දැඩි ලෝභය හා දොම්නස දුරලා (වාසය කරයි.)

## ධම්මෙසු ධම්මානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣාදොමනස්සං

(නීවරණාදී ධර්‍මයන්) හි එම (නීවරණාදී ධර්‍මයන්) නැවත නැවත බලමින් (ධම්මානුපස්සනා භාවනාවෙහි යෙදී) වාසය කරයි. වීර්යයෙන් නුවණින් හා සිහියෙන් යුතුව ලෝක නම් වූ (නීවරණාදී ධර්‍මයන්හි) දැඩි ලෝභය හා දොම්නස දුරලා වාසය කරයි.

### කායානුපස්සනා පබ්බ

ආනාපානසති

## කථඤ්ච භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, භික්ෂුව (රූප) කයෙහි කය නැවත නැවත බලමින් කෙසේ වාසය කෙරේ ද?

## ඉධ භික්ඛවෙ භික්ඛු අරඤ්ඤගතො වා රුක්ඛමූලගතො වා සුඤ්ඤාගාරගතො වා නිසීදති පල්ලඞ්කං ආභුජිත්වා උජුං කායං පණිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා

මහණෙනි, මේ සසුනෙහි භික්ෂුව වන සෙනසුනකට ගියේ හෝ රුක් මුල් සෙනසුනකට ගියේ හෝ ශුන්‍යාගාරයකට (ජනයාගෙන් හිස් තැනකට) ගියේ හෝ පලක් බැඳ හිඳී. කය සෘජු කොට පිහිටුවා හිඳියි. සිහිය (කර්මස්ථානයට) අරමුණු කොට පිහිටුවා (හිඳියි)

**සො සතොව අස්සසති සතො පස්සසති**

**දීඝං වා  අස්සසන්තො දීඝං අස්සසාමී ති පජානාති දීඝං වා  පස්සසන්තො දීඝං පස්සසාමී ති පජානාති**

හෙතෙම සිහි ඇතිවම ආශ්වාස කරයි. සිහි ඇතිවම ප්‍රශ්වාස කරයි.

දීර්ඝ කොට හෝ ආශ්වාස කරන්නේ දීර්ඝ කොට ආශ්වාස කරමියි දැනගනි. දීර්ඝ කොට ප්‍රශ්වාස කරන්නේ හෝ දීර්ඝ කොට ප්‍රශ්වාස කරමියි දැනගනි.

**රස්සං වා  අස්සසන්තො රස්සං අස්සසාමී ති පජානාති රස්සං වා  පස්සසන්තො රස්සං පස්සසාමී ති පජානාති**

ලුහුඬු කොට හෝ ආශ්වාස කරන්නේ ලුහුඬු කොට ආශ්වාස කරමියි දැනගනි. ලුහුඬු කොට ප්‍රශ්වාස කරන්නේ හෝ ලුහුඬු කොට ප්‍රශ්වාස කරමියි දැනගනි.

**සබ්බකායපටිසංවෙදී අස්සසිස්සාමී ති සික්ඛති**
**සබ්බකායපටිසංවෙදී පස්සසිස්සාමී ති සික්ඛති**

සියලු ආශ්වාස ප්‍රශ්වාස කය පිළිබඳ වැටහෙන සුලුව, ආශ්වාස කරමියි අභ්‍යාස කරයි. සියලු ආශ්වාස ප්‍රශ්වාස කය පිළිබඳ වැටහෙන සුලුව, ප්‍රශ්වාස කරමියි අභ්‍යාස කරයි.

**පස්සම්භයං කායසඞ්ඛාරං අස්සසිස්සාමී ති සික්ඛති**
**පස්සම්භයං කායසඞ්ඛාරං පස්සසිස්සාමී ති සික්ඛති**

කාය සංස්කාරය (ඕළාරික වූ හෙවත් ආශ්වාස ප්‍රශ්වාස) සංහිඳුවා ගනිමින් ආශ්වාස කරමියි අභ්‍යාස කරයි.

කාය සංස්කාරය (ඕළාරික වූ හෙවත් මහත් වූ ආශ්වාස ප්‍රශ්වාස) සංහිඳුවා ගනිමින් ප්‍රශ්වාස කරමියි අභ්‍යාස කරයි.

**සෙය්‍යථාපි භික්ඛවෙ දක්ඛො භමකාරො වා භමකාරන්තෙවාසී වා**

**දීඝං වා අඤ්ඡන්තො දීඝං අඤ්ඡාමී ති පජානාති රස්සං වා අඤ්ඡන්තො රස්සං අඤ්ඡාමී ති පජානාති**

මහණෙනි යම්සේ දක්ෂ වූ ලියන වඩුවෙක් හෝ ලියන වඩුවෙකු ගේ අත වැසියෙක් හෝ

දික් කොට අදින්නේ හෝ දික් කොට අදිමියි දැන ගනී. ලුහුඬු කොට අදින්නේ හෝ ලුහුඬු කොට අදිමියි දැන ගනී.

**එවමෙව ඛො භික්ඛවෙ භික්ඛූ දීඝං වා අස්සසන්තො දීඝං අස්සසාමී ති පජානාති දීඝං වා පස්සසන්තො දීඝං පස්සසාමී ති පජානාති**

මහණෙනි මෙසේම භික්ෂුව දික් කොට ආශ්වාස කරන්නේ හෝ දීර්ඝ කොට ආශ්වාස කරමියි දැනගනි. දික් කොට ප්‍රශ්වාස කරන්නේ හෝ දික් කොට ප්‍රශ්වාස කරමියි දැනගනි.

**රස්සං වා  අස්සසන්තො රස්සං අස්සසාමී ති පජානාති රස්සං වා  පස්සසන්තො රස්සං පස්සසාමී ති පජානාති**

ලුහුඬු කොට ආශ්වාස කරන්නේ හෝ ලුහුඬු කොට ආශ්වාස කරමියි දැනගනී. ලුහුඬු කොට ප්‍රශ්වාස කරන්නේ හෝ ලුහුඬු කොට ප්‍රශ්වාස කරමියි දැනගනී.

**සබ්බකායපටිසංවේදී අස්සසිස්සාමී ති සික්ඛති**
**සබ්බකායපටිසංවේදී පස්සසිස්සාමී ති සික්ඛති**

සියලු ආශ්වාස ප්‍රශ්වාස කය වැටහෙන සුලුව ආශ්වාස කරමියි අභ්‍යාස කරයි. සියලු ආශ්වාස ප්‍රශ්වාස කය වැටහෙන සුලුව ප්‍රශ්වාස කරමියි අභ්‍යාස කරයි.

**පස්සම්භයං කායසඞ්ඛාරං අස්සසිස්සාමී ති සික්ඛති**
**පස්සම්භයං කායසඞ්ඛාරං පස්සසිස්සාමී ති සික්ඛති**

කාය සංස්කාරය (ඕළාරික ආශ්වාස ප්‍රශ්වාස) සංහිඳුවා ගනිමින් ආශ්වාස කරමියි අභ්‍යාස කරයි. කාය සංස්කාරය (ඕළාරික ආශ්වාස ප්‍රශ්වාස) සංහිඳුවා ගනිමින් ප්‍රශ්වාස කරමියි අභ්‍යාස කරයි.

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති**
**බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**
**අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමන්ගේ (ආශ්වාස ප්‍රශ්වාස නමැති) කයෙහි හෝ කය අනුව බලමින් (කාය ගතා සති භාවනාව වඩමින්) වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති**
**වයධම්මානුපස්සී වා කායස්මිං විහරති**
**සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

(ආශ්වාස ප්‍රශ්වාස කයෙහි) උත්පත්ති ස්වභාවය අනුව බලමින් හෝ වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය බලමින් හෝ වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය යන දෙකම හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

(ඒ යෝගාවචරයාට) ආශ්වාස ප්‍රශ්වාස කය ඇත්තේය යන සිහිය, එළඹ සිටී. (එසේ සිහිය එළඹීම) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී.
(හෙතෙම තණ්හාව දෘෂ්ටිය යන දෙකෙන්) ඈත්ව වාසය කරයි. සත්ව ලෝකයෙහි (රූපා දී) කිසිවක් (ආත්ම වශයෙන්) නොගනී.

## එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මෙසේ ද මහණ තෙමේ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.



## චතු ඉරියාපථ පබ්බ

සතර කායික ඉරියව්

**පුන ච පරං භික්ඛවෙ භික්ඛු ගච්ඡන්තො වා ගච්ඡාමීති පජානාති, ඨිතො වා ඨිතොම්හී ති පජානාති, නිසින්නො වා නිසින්නොම්හී ති පජානාති, සයානො වා සයානොම්හී ති පජානාති, යථා යථා වා පනස්ස කායො පණිහිතො හොති තථා තථා නං පජානාති.**

මහණෙනි, නැවත ද මහණතෙම යන්නේ යමියි කියා දැනගනියි. සිටගෙන සිටියේ සිටගෙන සිටියෙමියි දැනගනී. හිඳගෙන සිටියේ හිඳගෙන සිටියෙමියි දැනගනී. නිදන්නේ නිදමියි කියා දැනගනී. යම් යම් ඉරියව්වකින් ඔහුගේ ශරීරය පිහිටුවන ලද්දේ නම්, ඒ ඒ පරිද්දෙන් ඒ කය දැනගනී.

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති**
**බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**
**අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමන්ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමන්ගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති**
**වයධම්මානුපස්සී වා කායස්මිං විහරති**
**සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය අනුව බලමින් හෝ වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය අනුව බලමින් හෝ වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය බලමින් හෝ වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

කය ඇත්තේය කියා හෝ ඔහුට සිහිය එළඹ සිටී. හුදෙක් ඤාණය දියුණු වීම සඳහා ද සිහිය වැඩිවීම සඳහා ද එය පවතී. ඔහු තණ්හාව හා දෘෂ්ටිය යන දෙකෙන් ඈත්ව වාසය කරයි. සත්ව ලෝකයෙහි කිසිවක් අල්වා නොගනී.

## එවම්පි බො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මෙසේ ද මහණ තෙමේ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.



## සම්පජඤ්ඤ පබ්බං

### පුන ච පරං භික්ඛවෙ භික්ඛූ අභික්කන්තෙ පටික්කන්තෙ සම්පජානකාරී හොති

මහණෙනි නැවත ද මහණතෙම ඉදිරියට යාමෙහි ද ආපසු ඊමෙහි ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

### ආලොකිතෙ විලොකිතෙ සම්පජානකාරී හොති

ඉදිරි පස බැලීමෙහි දී ද අනු දිසා බැලීමෙහි දී ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

### සම්මිඤ්ජිතෙ පසාරිතෙ සම්පජානකාරී හොති

අතපය හැකිලීමෙහි දී ද දිගු කිරීමෙහිදී ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

### සඞ්ඝාටිපත්තචීවරධාරණෙ සම්පජානකාරී හොති

දෙපට සිවුර පාත්‍රය සහ තනිපට සිවුර දැරීමෙහි දී ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

### අසිතෙ පීතෙ ඛායිතෙ සායිතෙ සම්පජානකාරී හොති

අනුභව කිරීමෙහි දී ද පානය කිරීමෙහි දී ද
අතුරුපස ගැනීමෙහි දී ද රස විඳීමෙහි දී ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

### උච්චාරපස්සාවකම්මෙ සම්පජානකාරී හොති

මලමුත්‍ර කිරීමෙහි දී ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

**ගතෙ ඨිතෙ නිසින්නෙ සුත්තෙ ජාගරිතෙ භාසිතෙ තුණ්හීභාවෙ සම්පජානකාරී හොති**

යාමෙහි සිටගෙන සිටීමෙහි හිඳීමෙහි නිදීමෙහි නොනිදීමෙහි කතා කිරීමෙහි දී ද සහ නිශ්ශබ්දව සිටීමෙහි දී ද මනා ප්‍රඥාවෙන් යුක්තව ක්‍රියා කරයි.

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය

වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි.(ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

**එවම්පි භික්ඛවෙ භික්ඛූ කායෙ කායානුපස්සී විහරති**

මහණෙනි, මහණ තෙමෙ මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.



## පටික්කූලමනසිකාර පබ්බං

**පුන ච පරං භික්ඛවෙ භික්ඛූ ඉමමෙව කායං උද්ධං පාදතලා අධො කෙසමත්ථකා තචපරියන්තං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති**

මහණෙනි නැවත ද මහණතෙම පාද තලයෙන් උඩ හිස්මුදුනෙන් යට සම කෙලවර කොට ඇති නා නා ප්‍රකාර අසූචියෙන් පිරී ඇති බව සිහි කර බලයි.

**අත්ථි ඉමස්මිං කායෙ කෙසා, ලොමා, නඛා, දන්තා, තචො, මංසං, නහාරු, අට්ඨී, අට්ඨිමිඤ්ජං,**

**වක්කං, හදයං, යකනං, කිලෝමකං, පිහකං, පප්ඵාසං, අන්තං, අන්තගුණං, උදරියං, කරීසං, මත්ථලුඞ්ගං, පිත්තං, සෙම්හං, පුබ්බො, ලොහිතං, සෙදො, මෙදො, අස්සු, වසා, ඛෙළො, සිඞ්ඝාණිකා, ලසිකා, මුත්තන්ති**

මේ ශරීරයෙහි (මෙනම් දේ) ඇත. කෙස්ය, ලොම්ය, නියපොතුය, දත්ය, සමය, මස්ය, නහරය, ඇටය, ඇට මිදුලුය, වකුගඩුය, හදවතය, අක්මාවය, දලබුවය, බඩදිවය, පපුමසය, බඩවැලය, අතුණුබහණය, (කුඩා බඩවැල), නොදිරූ අහරය, අසූචිය, හිස්මොලය, පිතය, සෙමය, සැරවය, රුධිරය, ඩහදියය, මේද තෙල්ය, කඳුලුය, වුරුණු තෙල්ය, කෙළය, සොටුය, සදමිදුලුය, මුත්‍රය, (යන මේවායි)

**සෙය්‍යථාපි භික්ඛවෙ උභතොමුඛා මූතොලි පූරා නානාවිහිතස්ස ධඤ්ඤස්ස සෙය්‍යථිදං**

**සාලීනං වීහීනං මුග්ගානං**
**මාසානං තිලානං තණ්ඩුලානං**
**තමෙනං චක්ඛුමා පුරිසො මුඤ්චිත්වා**
**පච්චවෙක්ඛෙය්‍ය ඉමෙ සාලී ඉමෙ වීහී ඉමෙ මුග්ගා**
**ඉමෙ මාසා ඉමෙ තිලා ඉමෙ තණ්ඩුලා ති**

මහණෙනි, යම්සේ දෙපසින් කටවල් දෙකක් ඇති මල්ලක් වේ ද (එය) නානාප්‍රකාර ධාන්‍ය වලින් පුරවන ලද්දේ වේ.

ඒ මෙසේය. හැල්විය, අනෙකුත් වී වර්ගය, මුංය, මෑය, තලය, සහල්ය, (යන මේවායි.) ඇස් ඇති පුරුෂයෙක් ඒ මල්ල ලිහා බලා (මෙසේ) සිතන්නේය. මේ හැල්විය, මේ අනෙකුත් වීය, මේ මුං ය, මේ මෑය, මේ තලය, මේ සහල්ය (යනුවෙනි)

**එවමෙව ඛො භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං උද්ධං පාදතලා අධො කෙසමත්ථකා තචපරියන්තං පූරං නානප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති**

මහණෙනි මෙසේම මහණතෙම පාද තලයෙන් උඩ හිස්මුදුනෙන් යට සම කෙලවර කොට ඇති මේ ශරීරයම නා නා ප්‍රකාර අසූචියෙන් පිරී ඇති බව සිහි කර බලයි.

**අත්ථි ඉමස්මිං කායෙ කෙසා ලොමා නඛා දන්තා තචො මංසං නහාරූ අට්ඨි අට්ඨිමිඤ්ජා වක්කං හදයං යකනං කිලොමකං පිහකං පප්ඵාසං අන්තං අන්තගුණං උදරියං කරීසං මත්ථලුඞ්ගං පිත්තං සෙම්හං පුබ්බො ලොහිතං සෙදො මෙදො අස්සු වසා ඛෙළො සිඞ්ඝාණිකා ලසිකා මුත්තන්ති**

මේ ශරීරයෙහි (මෙනම් දේ) ඇත. කෙස්ය, ලොම්ය, නියපොතුය, දත්ය, සමය, මස්ය, නහරය, ඇටය, ඇට මිදුලුය, වකුගඩුය, හදවතය, අක්මාවය, දලබුවය, බඩදිවය, පපුමසය, බඩවැලය, අතුණුබහණ්ය, (කුඩා බඩවැල), නොදිරූ අහරය, අසූචිය, හිස්මොලය, පිතය, සෙමය, සැරවය, රුධිරය, ඩහදියය, මේද තෙල්ය, කඳුලුය, වුරුණු තෙල්ය, කෙළය, සොටුය, සදමිදුලුය, මුත්‍රය, (යන මේවායි)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති
## වයධම්මානුපස්සී වා කායස්මිං විහරති
## සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙම මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.



## ධාතු මනසිකාර පබ්බ

**පුන ච පරං භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං යථාඨිතං යථාපණිහිතං ධාතුසො පච්චවෙක්ඛති**

මහණෙනි, නැවත ද මහණතෙම මේ ශරීරය යම් සේ පිහිටියේ ද යම් සේ පිහිටුවන ලද ද (එසේ) ධාතු වශයෙන් මෙනෙහි කර බලයි.

**අත්ථි ඉමස්මිං කායෙ පඨවි ධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ ති**

මේ ශරීරයෙහි පඨවි ධාතුය, ආපෝ ධාතුය, තේජෝ ධාතුය, වායෝ ධාතුය (යන මේවා ඇත.)

**සෙය්‍යථාපි භික්ඛවෙ දක්ඛො ගොඝාතකො වා ගොඝාතකන්තෙවාසී වා ගාවිං වධිත්වා චාතුම්මහාපථෙ බිලසො පටිවිභජිත්වා නිසින්නො අස්ස**

මහණෙනි, යම්සේ දක්ෂ වූ ගවයන් මරන්නෙක් හෝ ඔහුගේ අත වැසියෙක් හෝ ගවදෙනක මරා කොටස් වශයෙන් වෙන් කොට සතර මං සන්ධියක තබාගෙන හුන්නේ වේ ද

**එවමෙව ඛො භික්ඛවෙ භික්ඛු ඉමමෙව කායං යථාඨිතං යථාපණිහිතං ධාතුසො පච්චවෙක්ඛති**

මහණෙනි එපරිද්දෙන්ම මහණතෙම මේ ශරීරය යම් සේ පිහිටියේ ද යම්සේ පිහිටුවන ලද ද (එසේ) ධාතු වශයෙන් මෙනෙහි කර බලයි.

**අත්ථි ඉමස්මිං කායෙ පඨවි ධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ ති**

මේ කයෙහි පඨවි ධාතුව, ආපෝ ධාතුව, තේජෝ ධාතුව, වායෝ ධාතුව යන මේවා ඇත. (යනුවෙනි)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව

වාසය කරයි.(ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙමේ මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.



## නව සීවථික පබ්බ

## පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙම මළ සිරුරක් දක්නේ වේ ද (එය සොහොනෙහි හැර දමන ලද්දක් වෙයි.)

## එකාහමතං වා ද්වීහමතං වා තීහමතං වා උද්ධුමාතකං විනීලකං විපුබ්බකජාතං

(එය) මැරී එක් දවසක් ඉක්ම ගියේ හෝ වේ. දෙ දවසක් ඉක්ම ගියේ හෝ වේ. තුන් දවසක් ඉක්ම ගියේ හෝ වේ.

ඉදිමුණෝ හෝ වේ. නිල්ව ගියේ හෝ වේ. සැරව ගලන්නේ හෝ වේ.

**සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවං භාවි එතං අනතීතො ති**

ඒ මහණතෙම මේ මළ සිරුරම (තම සිරුර සමග) සමාන කර බලන්නේ මේ (මාගේ) සිරුර ද, මෙබඳු ස්වභාවය ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොඉක්මවන ලද්දේය. (යනුවෙනි)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය**

## අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි බො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙමේ මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

## පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දකී ද එය සොහොනෙහි හැර දමන ලද්දක් වේ.

## කාකෙහි වා ඛජ්ජමානං, ගිජ්ඣෙහි වා ඛජ්ජමානං, කුලලෙහි වා ඛජ්ජමානං, සුවානෙහි වා ඛජ්ජමානං, සිගාලෙහි වා ඛජ්ජමානං, විවිධෙහි වා පාණකජාතෙහි ඛජ්ජමානං.

එය කපුටන් විසින් හෝ කනු ලැබේ. ගිජුලිහිණියන් විසින් හෝ කනු ලැබේ. උකුස්සන් විසින් හෝ කනු ලැබේ. සුනඛයන් විසින් හෝ කනු ලැබේ. සිවලුන් විසින් හෝ කනු ලැබේ. විවිධ වූ සතුන් විසින් හෝ කනු ලැබේ.

**සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති**

ඒ මහණතෙම මේ මළ සිරුර (තම සිරුර සමග) සමාන කර බලන්නේ මේ (මාගේ) සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොඉක්මවන ලද්දේය. (යනුවෙනි)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි බො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙම මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

## පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙම යම්සේ මළ සිරුරක් දකින්නේ ද එය සොහොනෙහි දමන ලද එකකි.

## අට්ඨිසඞ්ඛලිකං සමංසලොහිතං නහාරු සම්බන්ධං

(එය) ඇටසැකිල්ලක් බවට පත් වූ ලේ මස් සහිත වූ නහර වලින් බැඳුනා වූ (මළ සිරුරක් වේ.)

## සො ඉමමෙව කායං උපසංහරති අයම්පි බො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති

ඒ මහණතෙම (තමාගේ) මේ ශරීරය (මළ සිරුර හා) සමාන කර බලයි. මේ මාගේ ශරීරය ද, මේ ස්වභාවය ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්ම වූයේ වේ. (යනුවෙනි)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

**එවම්පි බො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති**

මහණෙනි, මහණ තෙම මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

## පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දක්නේ ද එය සොහොනෙහි දමන ලද එකක් වේ.

## අට්ඨිසඞ්ඛලිකං නිම්මංසලොහිතමක්ඛිතං නහාරු සම්බන්ධං

(එය) ඇටසැකිල්ලක් බවට පත් වූ මස් නැති ලෙයින් වැකුණු නහර වලින් බැඳුනේ (වේ.)

## සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති

ඒ මහණතෙම තම ශරීරය ද ඒ මළ සිරුර හා මෙසේ සසඳා බලයි. මේ මගේ සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්මවන ලද්දේය (යනුවෙනි.)

## ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙම මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

## පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දක්නේ ද එය සොහොනෙහි දමන ලද එකක් වේ.

**අට්ඨිසඞ්ඛලිකං අපගතමංසලොහිතං නහාරු සම්බන්ධං**

(එය) ඇටසැකිල්ලක් බවට පත් වූ මස් ලේ දෙකෙන් පහවූ නහර වලින් බැඳුනේ (වේ.)

**සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති**

ඒ මහණතෙම තම ශරීරය මළ සිරුර හා සසඳා බලයි. මේ මගේ සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්මවන ලද්දේය (යනුවෙනි.)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී.(එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

**එවම්පි බො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති**

මහණෙනි, මහණ තෙමේ මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

**පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං**

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දකින්නේ ද එය සොහොනෙහි දමන ලද එකක් වේ.

**අට්ඨිකානි අපගත නහාරු සම්බන්ධානි දිසා විදිසාසු වික්ඛිත්තානි**

එය ඇට ගොඩක් බවට පත් වූ, පහවූ නහර බැඳුම් ඇති දිසා අනු දිසාවන් හි විහිදුනා වූ ඇට ඇති (මළ සිරුරක් වේ.)

**අඤ්ඤෙන හත්ථට්ඨිකං, අඤ්ඤෙන පාදට්ඨිකං,**

(එහි) අත් ඇට එක දිසාවකය. පා ඇට එක දිසාවකය.

**අඤ්ඤෙන ජඞ්ඝට්ඨිකං, අඤ්ඤෙන ඌරට්ඨිකං,**
කෙණ්ඩා ඇට එක දිසාවකය. කලවා ඇට එක දිසාවකය.

**අඤ්ඤෙන කටිට්ඨිකං, අඤ්ඤෙන පිට්ඨිකණ්ටකට්ඨිකං,**
උකුල් ඇට එක දිසාවකය. පිට කටු ඇට එක දිසාවකය.

**අඤ්ඤෙන ඵාසුකට්ඨිකං, අඤ්ඤෙන උරට්ඨිකං,**
ඉල ඇට එක දිසාවකය. පපු ඇට එක දිසාවකය.

**අඤ්ඤෙන බාහුට්ඨිකං, අඤ්ඤෙන අංසට්ඨිකං,**
බාහු ඇට එක දිසාවකය. උරහිස් ඇට එක දිසාවකය.

**අඤ්ඤෙන ගීවට්ඨිකං, අඤ්ඤෙන හනුට්ඨිකං,**
උගුරු ඇට එක දිසාවකය. හකු ඇට එක දිසාවකය.

**අඤ්ඤෙන දන්තට්ඨිකං, අඤ්ඤෙන සීසකටාහං.**
දත් එක දිසාවකය. හිස් කබල එක දිසාවකය.

**සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති**

ඒ මහණතෙම තම ශරීරය ද ඒ මළ සිරුර හා මෙසේ සසඳා බලයි. මේ මගේ සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්මවන ලද්දේය (යනුවෙනි.)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙම මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

**පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං**

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දකින්නේ ද එය සොහොනෙහි දමන ලද එකක් වේ.

**අට්ඨිකානි සෙතානි සඞ්ඛවණ්ණූපනිභානි**

එය ඇට ගොඩක්  බවට පත් වූ, (එය) හක් ගෙඩියක් සෙයින් සුදු පැහැයෙන් යුක්ත වේ.

**සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති**

ඒ මහණතෙම තෙම ශරීරය ද ඒ මළ සිරුර හා මෙසේ සසඳා බලයි. මාගේ සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්මවන ලද්දේය (යනුවෙනි.)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛූ කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙමේ මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

## පුන ච පරං භික්ඛවෙ භික්ඛූ සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දකින්නේ ද එය සොහොනෙහි දමන ලද එකක් වේ.

## අට්ඨිකානි පුඤ්ජකිතානි තෙරොවස්සිකානි

ඇට ගොඩක් බවට පත් වූ, (එය) ගොඩ ගැසුණු ඇට ඇති අවුරුදු ගණනක් පැරණි වූ (මළ සිරුරක් වේ.)

**සො ඉමමෙව කායං උපසංහරති අයම්පි බො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති**

ඒ මහණතෙම තම ශරීරය ද ඒ මළ සිරුර හා මෙසේ සසඳා බලයි. මාගේ සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්මවන ලද්දේය (යනුවෙනි.)

**ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති**

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති වයධම්මානුපස්සී වා කායස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති**

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

**අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙමේ මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

□□□□□□□□□□□

## පුන ච පරං භික්ඛවෙ භික්ඛු සෙය්‍යථාපි පස්සෙය්‍ය සරීරං සීවථිකාය ඡඩ්ඩිතං

මහණෙනි නැවත ද මහණතෙමේ යම්සේ මළ සිරුරක් දකින්නේ ද එය සොහොනෙහි දමන ලද එකක් වේ.

## අට්ඨිකානි පූතීනි චුණ්ණකජාතානි

(එහි) ඇට කුණු වී ගොස් කුඩු බවට පත් වූයේ වේ.

## සො ඉමමෙව කායං උපසංහරති අයම්පි ඛො කායො එවං ධම්මො එවංභාවි එතං අනතීතො ති

ඒ මහණතෙමේ තම ශරීරය ද ඒ මළ සිරුර හා මෙසේ සසඳා බලයි. මගේ සිරුර ද, මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙසේ වන සුලුය. මේ ස්වභාවය නොයික්මවන ලද්දේය (යනුවෙනි.)

## ඉති අජ්ඣත්තං වා කායෙ කායානුපස්සී විහරති බහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති

## අජ්ඣත්තබහිද්ධා වා කායෙ කායානුපස්සී විහරති

මෙසේ තමාගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. අනුන් ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ අනුන් ගේ හෝ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා කායස්මිං විහරති
## වයධම්මානුපස්සී වා කායස්මිං විහරති
## සමුදයවයධම්මානුපස්සී වා කායස්මිං විහරති

කයෙහි උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. කයෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ යෝගාවචරයාට කය ඇත්තේය කියා හෝ සිහිය එළඹ සිටී. (එබඳු සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. (ඔහු තණ්හා දිට්ඨි දෙකෙන්) දුරුව වාසය කරයි. (ඔහු) ලෝකයෙහි (රූපා දී) කිසිවක් අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛූ කායෙ කායානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙම මෙසේ ද කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

## වේදනානුපස්සනා

### කථඤ්ච භික්ඛවෙ භික්ඛූ වේදනාසු වේදනානුපස්සී විහරති

මහණෙනි මහණතෙම (සැප ආදී) වේදනාවන් කෙරෙහි වේදනාවන් අනුව බලන සුලුව කෙසේ නම් වාසය කෙරේ ද?

### ඉධ භික්ඛවේ භික්ඛූ සුඛං වේදනං වේදියමානො සුඛං වේදනං වේදියාමීති පජානාති

මහණෙනි මේ සසුනෙහි භික්ෂු තෙම

සැප වේදනාවක් විඳින විට මම සැප වේදනාවක් විඳිමියි දැන ගනී.

### දුක්ඛං වේදනං වේදියමානො දුක්ඛං වේදනං වේදියාමීති පජානාති

දුක් වේදනාවක් විඳින විට මම දුක් වේදනාවක් විඳිමියි දැන ගනී.

### අදුක්ඛමසුඛං වේදනං වේදියමානො අදුක්ඛමසුඛං වේදනං වේදියාමීති පජානාති

දුකත් සැපත් නොවන වේදනාවක් විඳින විට මම මැදහත් වේදනාවක් විඳිමියි දැන ගනී.

### සාමිසං වා සුඛං වේදනං වේදියමානො සාමිසං සුඛං වේදනං වේදියාමී ති පජානාති

පස්කම් පිළිබඳ සැප වේදනාවක් විඳින විට පස්කම් පිළිබඳ සැප වේදනාවක් විඳිමියි දැන ගනී.

**නිරාමිසං වා සුඛං වේදනං වේදියමානො නිරාමිසං සුඛං වේදනං වේදියාමී ති පජානාති**

පස්කම් සුවයෙන් ඉවත් වීම පිළිබඳව වේදනාවක් විඳින විට පස්කම් සැපයෙන් ඉවත් වීම පිළිබඳව වේදනාවක් විඳිමියි දැන ගනී.

**සාමිසං වා දුක්ඛං වේදනං වේදියමානො සාමිසං දුක්ඛං වේදනං වේදියාමී ති පජානාති**

පස්කම් පිළිබඳ දුක් වේදනාවක් විඳින විට පස්කම් පිළිබඳව දුක් වේදනාවක් විඳිමියි දැන ගනී.

**නිරාමිසං වා දුක්ඛං වේදනං වේදියමානො නිරාමිසං දුක්ඛං වේදනං වේදියාමී ති පජානාති**

පස්කම් සැපයෙන් ඉවත් වීම පිළිබඳව දුක් වේදනාවක් විඳින විට පස්කම් සැපයෙන් ඉවත් වීම පිළිබඳව දුක් වේදනාවක් විඳිමියි දැන ගනී.

**සාමිසං වා අදුක්ඛමසුඛං වේදනං වේදියමානො සාමිසං අදුක්ඛමසුඛං වේදනං වේදියාමී ති පජානාති**

පස්කම් පිළිබඳ මැදහත් වේදනාවක් විඳින විට පස්කම් පිළිබඳ මැදහත් වේදනාවක් විඳිමියි දැන ගනී.

**නිරාමිසං වා අදුක්ඛමසුඛං වේදනං වේදියමානො නිරාමිසං අදුක්ඛමසුඛං වේදනං වේදියාමී ති පජානාති**

පස්කම් සැපයෙන් ඉවත් වීම පිළිබඳව මැදහත් වේදනාවක් විඳින විට පස්කම් සැපයෙන් ඉවත් වීම පිළිබඳ මැදහත් වේදනාවක් විඳිමියි දැන ගනී.

## ඉති අජ්ඣත්තං වා වේදනාසු වේදනානුපස්සී විහරති බහිද්ධා වා වේදනාසු වේදනානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා වේදනාසු වේදනානුපස්සී විහරති

මෙසේ තමා පිළිබඳ වේදනාවන් කෙරෙහි හෝ වේදනාවන් අනුව බලමින් වාසය කරයි. අනුන් පිළිබඳ වේදනාවන් කෙරෙහි හෝ වේදනාවන් අනුව බලමින් වාසය කරයි. තමා හෝ අනුන් පිළිබඳ වේදනාවන් කෙරෙහි හෝ වේදනාවන් අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා වේදනාසු විහරති වයධම්මානුපස්සී වා වේදනාසු විහරති සමුදයවයධම්මානුපස්සී වා වේදනාසු විහරති

වේදනා පිළිබඳ උත්පත්ති ස්වභාවය හෝ අනුව දකිමින් වාසය කරයි. වේදනාවන් කෙරෙහි විනාශ වන ස්වභාවය හෝ බලමින් වාසය කරයි. වේදනාවන්  කෙරෙහි උත්පත්ති සහ විනාශ වන ස්වභාවය මෙනෙහි කරමින් වාසය කරයි.

## අත්ථි වේදනා ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පටිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

වේදනාව ඇත්තේය කියා හෝ ඔහුට සිහිය එළඹ සිටියි. (ඒ සිහිය) හුදෙක් නුවණ දියුණු වීම සඳහා ද සිහිය වැඩිවීම

සඳහා ද පවතී. ඒ මහණාතෙම තණ්හා දිට්ඨි වලින් දුරුව වාසය කරයි. ඔහු සත්ව ලෝකයෙහි රූපාදී කිසිවක් අල්වා නොගනී.

## එවං ඛො භික්ඛවේ භික්ඛූ වේදනාසු වේදනානුපස්සී විහරති

මහණෙනි, මෙසේ මහණ තෙම වේදනාවන් හි වේදනාවන් අනුව බලමින් වාසය කරයි.



# චිත්තානුපස්සනා

## කථඤ්ච භික්ඛවෙ භික්ඛූ චිත්තේ චිත්තානුපස්සී විහරති

මහණෙනි මහණතෙම කෙසේ නම්, සිතෙහි සිත අනුව බලමින් වාසය කෙරේ ද?

## ඉධ භික්ඛවෙ භික්ඛූ සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති

මහණෙනි මේ සසුනෙහි මහණතෙම, රාග සහගත සිත හෝ රාග සහගත සිත යයි දැනගනී. පහවූ රාග ඇති සිත හෝ පහවූ රාග ඇති සිත යැයි දැන ගනී.

## සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති

ද්වේශ සහගත සිත හෝ ද්වේශ සහගත සිත යයි දැනගනී. ද්වේශ රහිත සිත හෝ ද්වේශ රහිත සිත යැයි දැන ගනී.

## සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති

මෝහ සහගත සිත හෝ මෝහ සහගත සිත යයි දැනගනී. මෝහ රහිත සිත හෝ මෝහ රහිත සිත යැයි දැන ගනී.

**සඞ්ඛිත්තං වා චිත්තං සඞ්ඛිත්තං චිත්තන්ති පජානාති වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති**

හැකිලුණා වූ සිත හෝ හැකිලුණා වූ සිත යයි දැනගනී. විසිර පවත්නා සිත හෝ විසිර පවත්නා සිත යැයි දැන ගනී.

**මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති**

මහත්බවට ගියා වූ සිත හෝ මහත්බවට ගියා වූ සිත යයි දැනගනී. මහත්බවට නොගියා වූ සිත හෝ මහත්බවට නොගියා වූ සිත යැයි දැන ගනී.

**සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති**

උතුරු සහිත සිත (කාමාවචර සිත) හෝ උතුරු සහිත සිත යයි දැනගනී. අනුත්තර වූ සිත හෝ (රූපාවචර, අරූපාවචර සිත) අනුත්තර සිත යයි දැනගනී.

**සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති**

එකඟ වූ සිත හෝ එකඟ වූ සිත යයි දැනගනී. එකඟ නොවූ සිත හෝ එකඟ නොවූ සිත යයි දැනගනී.

**විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති**

මිදුණු සිත හෝ මිදුණු සිත යයි දැනගනී. නොමිදුණු සිත හෝ නොමිදුණු සිත යයි දැනගනී.

**ඉති අජ්ඣත්තං වා චිත්තේ චිත්තානුපස්සී විහරති බහිද්ධා වා චිත්තේ චිත්තානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා චිත්තේ චිත්තානුපස්සී විහරති**

මෙසේ තමා පිළිබඳ වූ සිතෙහි හෝ සිත අනුව බලමින් වාසය කරයි. අනුන් පිළිබඳ වූ සිතෙහි හෝ සිත අනුව බලමින් වාසය කරයි. තමා හා අනුන් පිළිබඳ වූ සිතෙහි හෝ සිත අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා චිත්තස්මිං විහරති වයධම්මානුපස්සී වා චිත්තස්මිං විහරති සමුදයවයධම්මානුපස්සී වා චිත්තස්මිං විහරති**

සිතෙහි උප්පත්තිය අනුව බලමින් හෝ වාසය කරයි. සිතෙහි විනාශය අනුව බලමින් හෝ වාසය කරයි. සිතෙහි උප්පත්තිය හා විනාශය අනුව බලමින් හෝ වාසය කරයි.

**අත්ථි චිත්තන්ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති**

ඒ මහණ සිත ඇත්තේය කියා හෝ සිහිය පිහිටුවන ලදි.

(එම සිහිය) හුදෙක් නුවණ දියුණු කිරීම පිණිස ද සිහිය වැඩීම පිණිස ද (පවතී) ඔහු තණ්හා දිට්ඨි දෙකෙන් දුරුව වාසය කරයි. (ඔහු) සත්ව ලෝකයෙහි (රූපා දී) කිසිවක් (ආත්ම වශයෙන්) අල්වා නොගනී.

## එවං ඛො භික්ඛවෙ භික්ඛූ චිත්තේ චිත්තානුපස්සී විහරති

මහණෙනි, මහණ තෙමේ මෙසේ සිතෙහි සිත අනුව බලමින් වාසය කරයි.



## ධම්මානුපස්සනා

## පඤ්ච නීවරණ ධර්ම

### කථඤ්ච භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති

මහණෙනි, මහණතෙමේ කෙසේ නම් නීවරණාදී ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරන්නේ ද?

### ඉධ භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු නීවරණෙසු

මහණෙනි මේ සසුනෙහි මහණතෙම පඤ්ච නීවරණාදී ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

### කථඤ්ච භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු නීවරණෙසු

මහණෙනි මහණතෙම පඤ්ච නීවරණ ධර්මයන් කෙරෙහි එම නීවරණ ධර්මයන් අනුව බලමින් වාසය කෙරේ ද?

### ඉධ භික්ඛවෙ භික්ඛූ සන්තං වා අජ්ඣත්තං කාමච්ඡන්දං අත්ථි මෙ අජ්ඣත්තං කාමච්ඡන්දොති පජානාති

මහණෙනි, මේ සසුනෙහි මහණතෙම, තමා තුළ ඇත්තා වූ හෝ කාමච්ඡන්දය (කම්සැප රුචිය) මා තුළ කාමච්ඡන්දය ඇතැයි දැනගනී.

### අසන්තං වා අජ්ඣත්තං කාමච්ඡන්දං නත්ථි මෙ අජ්ඣත්තං කාමච්ඡන්දොති පජානාති

තමා තුළ නොමැත්තා වූ හෝ කාමච්ඡන්දය මා තුළ කාමච්ඡන්දය නැතැයි දැන ගනී.

## යථා ච අනුප්පන්නස්ස කාමච්ඡන්දස්ස උප්පාදො හොති තඤ්ච පජානාති

යම් හෙයකින් නූපන්නාවූ කාමච්ඡන්දය උපදී නම් ඒ බවද දැනගනී.

## යථා ච උප්පන්නස්ස කාමච්ඡන්දස්ස පහානං හොති තඤ්ච පජානාති

යම් හෙයකින් උපන්නාවූ කාමච්ඡන්දයෙහි ප්‍රහාණය (මුලුමනින් නැතිකිරීම) වේ නම් ඒ බවද දැනගනී.

## යථා ච පහීනස්ස කාමච්ඡන්දස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති

යම් සේ ප්‍රහීණ වූ හෝ කාමච්ඡන්දය මත්තෙහේ නූපදී නම් ඒ බවද දැනගනී.

## සන්තං වා අජ්ඣත්තං ව්‍යාපදං අත්ථි මෙ අජ්ඣත්තං ව්‍යාපාදොති පජානාති

තමා තුළ ඇත්තා වූ ව්‍යාපාද නීවරණය මා තුළ ඇතැයි දැනගනී.

## අසන්තං වා අජ්ඣත්තං ව්‍යාපදං නත්ථි මෙ අජ්ඣත්තං ව්‍යාපාදොති පජානාති

තමා තුළ නැත්තා වූ හෝ ව්‍යාපාදය මා තුළ ව්‍යාපාදය නැතැයි දැන ගනී.

**යථා ච අනුප්පන්නස්ස ව්‍යාපාදස්ස උප්පාදො හොති තඤ්ච පජානාති**

යම් සේ නූපන් ව්‍යාපාදයෙහි ඉපදීමක් සිදුවේ නම් ඒ බව දැනගනී.

**යථා ච උප්පන්නස්ස ව්‍යාපාදස්ස පහානං හොති තඤ්ච පජානාති**

යම් සේ උපන් ව්‍යාපාදයෙහි ප්‍රහාණය වේ නම් එය ද දැනගනී.

**යථා ච පහීනස්ස ව්‍යාපාදස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

යම් සේ ප්‍රහීණ වූ ව්‍යාපාදයෙහි මතු නූපදීමක් වේ නම් ඒ බවද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං ථීනමිද්ධං අත්ථි මෙ අජ්ඣත්තං ථීනමිද්ධන්ති පජානාති**

තමා තුළ ථීනමිද්ධ නීවරණය (චිත්ත චෛතසික දුබල බව) ඇති විට මා තුළ ථීනමිද්ධය ඇතැයි දැනගනී.

**අසන්තං වා අජ්ඣත්තං ථීනමිද්ධං නත්ථි මෙ අජ්ඣත්තං ථීනමිද්ධන්ති පජානාති**

තමා තුළ ථීනමිද්ධ නීවරණය (චිත්ත චෛතසික දුබල බව)තමා තුළ ථීනමිද්ධය නැතැයි දැන ගනී.

**යථා ච අනුප්පන්නස්ස ථීනමිද්ධස්ස උප්පාදො හොති තඤ්ච පජානාති**

යම් සේ නූපන් ථීනමිද්ධයෙහි ඉපදීම සිදුවේ නම් ඒ බව ද දැනගනී.

## යථා ච උප්පන්නස්ස ථීනමිද්ධස්ස පහානං හොති තඤ්ච පජානාති

යම් සේ උපන් ථීනමිද්ධයෙහි ප්‍රහාණය වේ නම් එය ද දැනගනී.

## යථා ච පහීනස්ස ථීනමිද්ධස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති

යම් සේ ප්‍රහීණ වූ ථීනමිද්ධය මත්තෙහි නූපදී නම් ඒ බවද දැනගනී.

## සන්තං වා අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්චං අත්ථි මෙ අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්චන්ති පජානාති

තමා තුළ උද්ධච්ච කුක්කුච්චය (සිතේ නොසන්සුන් බව හා විපිලිසර බව) ඇති කල්හී මා තුළ උද්ධච්ච කුක්කුච්චය ඇතැයි දැනගනී.

## අසන්තං වා අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්චං නත්ථි මෙ අජ්ඣත්තං උද්ධච්චකුක්කුච්චන්ති පජානාති

තමා තුළ උද්ධච්ච කුක්කුච්චය නැති කල්හි මා තුළ උද්ධච්ච කුක්කුච්චය නැතැයි දැන ගනී.

## යථා ච අනුප්පන්නස්ස උද්ධච්චකුක්කුච්චස්ස උප්පාදො හොති තඤ්ච පජානාති

යම් සේ නූපන් උද්ධච්ච කුක්කුච්චයෙහි ඉපදීමක් වේ නම් එය ද දැනගනී.

**යථා ච උප්පන්නස්ස උද්ධච්චකුක්කුච්චස්ස පහානං හොති තඤ්ච පජානාති**

යම් සේ උපන් උද්ධච්ච කුක්කුච්චයෙහි හෝ ප්‍රහාණය වේ නම් එය ද දැනගනී.

**යථා ච පහීනස්ස උද්ධච්චකුක්කුච්චස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

යම් සේ ප්‍රහීණ වූ උද්ධච්ච කුක්කුච්චයෙහි හෝ මත්තෙහි නූපදීම වේ නම් එයද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං විචිකිච්ඡං අත්ථි මෙ අජ්ඣත්තං විචිකිච්ඡාති පජානාති**

තමා තුළ විචිකිච්ඡාව (සැකය) ඇති කල්හී හෝ මා තුළ විචිකිච්ඡාව ඇතැයි දැනගනී.

**අසන්තං වා අජ්ඣත්තං විචිකිච්ඡං නත්ථි මෙ අජ්ඣත්තං විචිකිච්ඡාති පජානාති**

තමා තුළ විචිකිච්ඡාව (සැකය) නැති කල්හී හෝ මා තුළ විචිකිච්ඡාව නැතැයි දැන ගනී.

**යථා ච අනුප්පන්නාය විචිකිච්ඡාය උප්පාදො හොති තඤ්ච පජානාති**

යම් සේ නූපන් විචිකිච්ඡාවයෙහි ඉපදීමක් වේ නම් එය ද දැනගනී.

**යථා ච උප්පන්නාය විචිකිච්ඡාය පහානං හොති තඤ්ච පජානාති**

යම් සේ උපන් විචිකිච්ඡාවයෙහි ප්‍රහාණය සිදුවේ නම් ඒ බව ද දැනගනී.

## යථා ච පහීනාය විචිකිච්ඡාය ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති

යම් සේ ප්‍රහීණ වූ විචිකිච්ඡාවෙහි මතු නූපදීමක් වේ නම් එයද දැනගනී.

## ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති

මෙසේ තමා තුළ ඇති ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි. බාහිර වූ ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි. තමා තුළ හෝ බාහිරව ඇති ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති

ධර්මයන්ගේ උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. ධර්මයන්ගේ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. ධර්මයන් කෙරෙහි උත්පත්ති සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි ධම්මා ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය

## අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඒ භික්ෂුවට ධර්මයන් ඇතැයි සිහිය එළඹ සිටියි. ඒ සිහිය හුදෙක් නුවණ දියුණු කිරීම සඳහා ද සිත වැඩීම සඳහා ද පවතී. ඔහු තණ්හා දිට්ඨි දෙකෙන් දුරුව වාසය කරයි. ඔහු සත්ව ලෝකයෙහි රූපාදී කිසිවක් (ආත්මාදී වශයෙන්) අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු නීවරණෙසු

මෙසේ ද මහණ තෙම පඤ්ච නීවරණ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.



### පඤ්ච උපාදානස්කන්ධ

## පුන ච පරං භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු

මහණෙනි නැවත ද වනාහි මහණතෙම පඤ්ච උපාදානස්කන්ධ ධර්මයන්හි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

**කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු**

මහණෙනි, මහණතෙම පඤ්ච උපාදානස්කන්ධ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් කෙසේ නම් වාසය කරයි ද?

**ඉධ භික්ඛවෙ භික්ඛු ඉති රූපං, ඉති රූපස්ස සමුදයො, ඉති රූපස්ස අත්ථඞ්ගමො.**

මහණෙනි, මේ සසුනෙහි මහණතෙම රූපය මෙසේ ය.

රූපයෙහි හට ගැනීම මෙසේ ය.

රූපයෙහි අස්තංගමය (නිරෝධය) මෙසේය.

**ඉති වේදනා, ඉති වේදනාය සමුදයො, ඉති වේදනාය අත්ථඞ්ගමො.**

වේදනාව මෙසේ ය.

වේදනාවෙහි හට ගැනීම මෙසේ ය.

වේදනාවෙහි අස්තංගමය මෙසේය.

**ඉති සඤ්ඤා, ඉති සඤ්ඤාය සමුදයො, ඉති සඤ්ඤාය අත්ථඞ්ගමො.**

සඤ්ඤාව මෙසේ ය.

සඤ්ඤාවෙහි හට ගැනීම මෙසේ ය.

සඤ්ඤාවෙහි අස්තංගමය මෙසේය.

**ඉති සංඛාරා, ඉති සංඛාරානං සමුදයො, ඉති සංඛාරානං අත්ථඞ්ගමො.**

සංස්කාර මෙසේ ය.

සංස්කාර වල හට ගැනීම මෙසේ ය.

සංස්කාරයන් ගේ අස්තංගමය මෙසේය.

**ඉති විඤ්ඤාණං, ඉති විඤ්ඤාණස්ස සමුදයො, ඉති විඤ්ඤාණස්ස අත්ථඞ්ගමො.**

විඤ්ඤාණය මෙසේ ය.

විඤ්ඤාණයේ හට ගැනීම මෙසේ ය.

විඤ්ඤාණයෙහි අස්තංගමය මෙසේ යයි (දැනගනී).

**ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති**

මෙසේ තමා තුළ ඇති පඤ්චස්කන්ධ ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි. බාහිර වූ එම ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි. තමා තුළ හෝ බාහිරව ඇති එම ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

**සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති**

ධර්මයන්ගේ උත්පත්ති ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. ධර්මයන්ගේ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි. ධර්මයන් කෙරෙහි උත්පත්ති සහ විනාශ වන ස්වභාවය හෝ අනුව බලමින් වාසය කරයි.

## අත්ථි ධම්මා ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

(ඒ භික්ෂුවට) ධර්මයන් ඇතැයි සිහිය එළඹ සිටියි. ඒ සිහිය හුදෙක් නුවණ දියුණු කිරීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. ඔහු තණ්හා දිට්ඨි දෙකෙන් දුරුව වාසය කරයි. ඔහු සත්ව ලෝකයෙහි රූපාදී කිසිවක් (ආත්මාදී වශයෙන්) අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති පඤ්චසු උපාදානක්ඛන්ධෙසු

මෙසේ ද මහණ තෙම පඤ්ච උපාදානස්කන්ධ ධර්මය අනුව බලමින් වාසය කරයි.



## ආධ්‍යාත්මික හා බාහිර ආයතන සය

**පුන ච පරං භික්ඛවෙ භික්ඛූ ධම්මෙසුධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තිකබාහිරෙසු ආයතනෙසු**

මහණෙනි නැවත ද මහණතෙම සවැදෑරුම් ආධ්‍යාත්මික සහ බාහිර ආයතන නම් වූ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

**කථඤ්ච භික්ඛවෙ භික්ඛූ ධම්මෙසු ධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තිකබාහිරෙසු ආයතනෙසු**

මහණෙනි, මහණතෙම කෙසේ නම් සවැදෑරුම් වූ ආධ්‍යාත්මික හා බාහිර ආයතන නම් වූ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි ද?

**ඉධ භික්ඛවෙ භික්ඛූ චක්ඛුඤ්ච පජානාති රූපෙ ච පජානාති යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං තඤ්ච පජානාති**

**යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති තඤ්ච පජානාති යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

මහණෙනි, මේ සසුනෙහි මහණතෙම ඇස ද දැනගනී. රූපයන් ද දැනගනී. ඒ දෙක නිසා යම් සංයෝජනයක් උපදී නම් එයත් දැනගනී. යම්සේ නූපන් සංයෝජනයක ඉපදීමක් වේ නම් එයත් දැනගනී. යම්සේ උපන්නා වූ සංයෝජනයක

ප්‍රහාණය වේ නම් එයද දැනගනී. යම්සේ ප්‍රහීණ වූ සංයෝජනයක් මත්තෙහි නූපදීනම් නම් එයත් දැනගනී.

**සොතඤ්ච පජානාති සද්දෙ ච පජානාති යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං තඤ්ච පජානාති යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති තඤ්ච පජානාති යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

කණ ද දැනගනී. ශබ්ද ද දැනගනී. ඒ දෙක නිසා යම් සංයෝජනයක් උපදී නම් එය ද දැනගනී. යම්සේ නූපන් සංයෝජනයෙහි ඉපදීමක් වේ නම් එය ද දැනගනී. යම්සේ උපන්නා වූ සංයෝජනයෙහි ප්‍රහාණය වේ නම් එයද දැනගනී. ප්‍රහීණ වූ සංයෝජනය මත්තෙහි යම් සේ නූපදීනම් නම් ඒ බවත් දැනගනී.

**ඝානඤ්ච පජානාති ගන්ධෙ ච පජානාති යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං තඤ්ච පජානාති යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති තඤ්ච පජානාති යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

නාසය ද දැනගනී. ගන්ධය ද දැනගනී. ඒ දෙක නිසා යම් සංයෝජනයක් උපදී නම් එයත් දැනගනී. යම්සේ නූපන්

සංයෝජනය උපදී නම් ඒ බව ද දැනගනී. උපන් සංයෝජනයෙහි ප්‍රහාණය යම්සේ වේ නම් එයද දැනගනී. ප්‍රහීණ වූ සංයෝජනයෙහි මතු නූපදීම වේ නම්, එයද දැනගනී.

**ජිව්හඤ්ච පජානාති රසෙ ච පජානාති යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං තඤ්ච පජානාති යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති තඤ්ච පජානාති යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

දිව ද දැනගනී. රස ද දැනගනී. ඒ දෙක නිසා උපන් සංයෝජනයක් වේ නම් එය ද දැනගනී. යම්සේ නූපන්නා වූ සංයෝජනයෙහි ඉපදීමක් වේ නම් එයත් දැනගනී. උපන්නා වූ සංයෝජනයෙහි යම්සේ වේ ප්‍රහාණයක් වේ නම් එයද දැනගනී. ප්‍රහීණ වූ සංයෝජනයෙහි මතු ඉපදීමක් නොවේ නම්, එයද දැනගනී.

**කායඤ්ච පජානාති ඵොට්ඨබ්බෙ ච පජානාති යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං තඤ්ච පජානාති යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති තඤ්ච පජානාති යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

ශරීරය ද දැනගනී. ස්පර්ශය ද දැනගනී. ඒ දෙක නිසා උපන් යම් සංයෝජනයක් උපදී නම් එයත් දැනගනී. නූපන්නා වූ සංයෝජනයාගේ යම් ඉපදීමක් වේ නම් එයත් දැනගනී. උපන්නා වූ සංයෝජනයාගේ යම් ප්‍රහාණයක් වේ නම් එය ද දැනගනී. ප්‍රහීණ වූ සංයෝජනයාගේ මත්තෙහි ඉපදීමක් නොවේ නම්, එයද දැනගනී.

**මනඤ්ච පජානාති ධම්මෙ ච පජානාති යඤ්ච තදුභයං පටිච්ච උප්පජ්ජති සංයොජනං තඤ්ච පජානාති යථා ච අනුප්පන්නස්ස සංයොජනස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සංයොජනස්ස පහානං හොති තඤ්ච පජානාති යථා ච පහීනස්ස සංයොජනස්ස ආයතිං අනුප්පාදො හොති තඤ්ච පජානාති**

සිතත් දැනගනී. ධර්මත් (ධර්මාරම්මණාත්) දැනගනී. ඒ දෙක නිසා යම් සංයෝජනයක් උපදී නම් එයත් දැනගනී. නූපන්නා වූ සංයෝජනයෙහි යම් සේ ඉපදීමක් වේ නම් එයත් දැනගනී. උපන් සංයෝජනයෙහි යම් බඳු ප්‍රහාණයක් වේ නම් එයත් දැනගනී. යම් සේ ප්‍රහීණ වූ සංයෝජනය මත්තෙහි නූපදී නම්, එයත් දැනගනී.

**ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති**

මෙසේ තමා තුළ වු ආධ්‍යාත්මික බාහිර ආයතන ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි. බාහිර වූ එම

ධර්මයන් කෙරෙහි හෝ ධර්මයන් අනුව බලමින් වාසය කරයි. තමාගේ හෝ බාහිර වූ එම ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති

එම ධර්මයන් කෙරෙහි උත්පත්ති ස්වභාවය දකිමින් වාසය කරයි. එම ධර්මයන් කෙරෙහි විනාශ වන ස්වභාවය දකිමින් වාසය කරයි. එම ධර්මයන් කෙරෙහි උත්පත්ති ස්වභාවය සහ විනාශ වන ස්වභාවය හෝ බලමින් වාසය කරයි.

## අත්ථි ධම්මා ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඔහුට ආයතන ධර්මයන් ඇත කියා සිහිය එළඹ සිටී. එය හුදෙක් ඥානය දියුණු වීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. ඒ මහණතෙම තණ්හා දිට්ඨි දෙකෙන් දුරුව වාසය කරයි. සත්ව ලෝකයෙහි (රූපාදී) කිසිවක් (ආත්මාදී වශයෙන්) අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති ඡසු අජ්ඣත්තිකබාහිරෙසු ආයතනෙසු

මහණෙනි මෙසේත් මහණ තෙම සවැදෑරුම් වූ ආධ්‍යාත්මික බාහිර ආයතන ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

## සත්වැදෑරුම් බොජ්ඣඞ්ග

**පුන ච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති සත්තසු බොජ්ඣඞ්ගෙසු**

මහණෙනි, නැවත ද මහණතෙම සත්වැදෑරුම් වූ බොජ්ඣඞ්ග ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

**කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති සත්තසු බොජ්ඣඞ්ගෙසු**

මහණෙනි, කෙසේ නම් මහණතෙම සත්වැදෑරුම් බොජ්ඣඞ්ග ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි ද?

**ඉධ භික්ඛවෙ භික්ඛු සන්තං වා අජ්ඣත්තං සති සම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං සති සම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං සති සම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං සති සම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස සති සම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සති සම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරී හොති තඤ්ච පජානාති**

මහණෙනි, මේ සාසනයෙහි මහණතෙම තමා තුළ සති සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන සිහිය) ඇති විට මා තුළ සති සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා තුළ සති සම්බොජ්ඣඞ්ගය නැති විට මා තුළ සති සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

යම්සේ නූපන්නා වූ සති සම්බොජ්ඣඞ්ගයෙහි ඉපදීමක් වේ නම් හෝ එය ද දැනගනී.

යම්සේ උපන්නා වූ සති සම්බොජ්ඣඞ්ගයෙහි භාවනාවෙන් සම්පූර්ණ කිරීම වේ නම් එය ද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස ධම්මවිචයසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස ධම්මවිචයසම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරි හොති තඤ්ච පජානාති**

තමා තුළ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන විදර්ශනා ප්‍රඥාව) ඇති කල්හි හෝ මා තුළ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා තුළ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය නැති කල්හි හෝ මා තුළ ධම්මවිචය සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

යම්සේ නූපන් ධම්මවිචය සම්බොජ්ඣඞ්ගයෙහි ඉපදීම වේ නම් එය ද දැනගනී.

යම්සේ උපන් ධම්මවිචය සම්බොජ්ඣඞ්ගයෙහි භාවනාවෙන් සම්පූර්ණ කිරීම වේ නම් එය ද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං විරියසම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස විරියසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස විරියසම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරි හොති තඤ්ච පජානාති**

තමා තුළ විරිය සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන වීර්යය) ඇති විට හෝ මා තුළ විරිය සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා තුළ විරිය සම්බොජ්ඣඞ්ගය නැති විට හෝ මා තුළ විරිය සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

නූපන්නා වූ හෝ විරිය සම්බොජ්ඣඞ්ගයෙහි ඉපදීම යම්සේ වේ නම් එය ද දැනගනී.

උපන් විරිය සම්බොජ්ඣඞ්ගයෙහි හෝ භාවනාවෙන් සම්පූර්ණ කිරීම යම් සේ වේ නම් එය ද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං පීතිසම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස පීතිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස**

**පීතිසම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරී හොති තඤ්ච පජානාති**

තමා තුළ ප්‍රීති සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන කාය චිත්ත ප්‍රීතිය) ඇති විට හෝ මා තුළ ප්‍රීති සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා තුළ ප්‍රීති සම්බොජ්ඣඞ්ගය නැති විට හෝ මා තුළ ප්‍රීති සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

නූපන් ප්‍රීති සම්බොජ්ඣඞ්ගයෙහි හෝ ඉපදීම යම්සේ වේ නම් එය ද දැනගනී.

උපන් ප්‍රීති සම්බොජ්ඣඞ්ගයෙහි හෝ භාවනාවෙන් සම්පූර්ණ කිරීම යම් සේ වේ නම් එය ද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං පස්සද්ධිසම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස පස්සද්ධිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස පස්සද්ධිසම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරී හොති තඤ්ච පජානාති**

තමා තුළ පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන කාය චිත්ත දෙකෙහි සංසිඳුවීම) හෝ ඇති විට මා තුළ පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා තුළ පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය නැති විට මා තුළ පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

යම්සේ නූපන් පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය උපදී නම් ඒ බවද දැනගනී.

යම්සේ උපන් පස්සද්ධි සම්බොජ්ඣඞ්ගය භාවනාවෙන් සම්පූර්ණ කිරීමක් වේ නම් එය ද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං සමාධිසම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස සමාධිසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස සමාධිසම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරී හොති තඤ්ච පජානාති**

තමා කෙරෙහි සමාධි සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන සිතේ එකඟකම) හෝ ඇති විට මා තුළ සමාධි සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා තුළ සමාධි සම්බොජ්ඣඞ්ගය නැති විට හෝ මා තුළ සමාධි සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

යම්සේ නූපන් සමාධි සම්බොජ්ඣඞ්ගයෙහි ඉපදීමක් වේ නම් එය ද දැනගනී.

උපන් සමාධි සම්බොජ්ඣඞ්ගයෙහි භාවනාවෙන් සම්පූර්ණ කිරීම යම්සේ වේ නම් එය ද දැනගනී.

**සන්තං වා අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගං අත්ථි මෙ අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගො ති පජානාති අසන්තං වා අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගං නත්ථි මෙ අජ්ඣත්තං උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගො ති පජානාති යථා ච අනුප්පන්නස්ස උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගස්ස උප්පාදො හොති තඤ්ච පජානාති යථා ච උප්පන්නස්ස උපෙක්ඛාසම්බොජ්ඣඞ්ගස්ස භාවනාය පාරිපූරී හොති තඤ්ච පජානාති**

තමා කෙරෙහි උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය (බුද්ධත්වයට හේතුවන සිතේ මැදහත් බව) හෝ ඇති විට මා තුළ උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය ඇතැයි දැනගනී.

තමා කෙරෙහි  උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය හෝ නැති විට මා තුළ උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය නැතැයි දැනගනී.

යම්සේ නූපන් උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය උපදී නම් ඒ බව ද දැනගනී.

යම්සේ උපන් උපෙක්ඛා සම්බොජ්ඣඞ්ගය භාවනාවෙන් සම්පූර්ණ කිරීම වේ නම් ඒ බව ද දැනගනී.

**ඉති අජ්ඣත්තං වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති බහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති අජ්ඣත්තබහිද්ධා වා ධම්මෙසු ධම්මානුපස්සී විහරති**

මෙසේ තමා කෙරෙහි පවත්නා සප්ත බොජ්ඣඞ්ග ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි. බාහිර

වශයෙන් හෝ පවත්නා සප්ත බොජ්ඣඞ්ග ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි. තමා කෙරෙහි හෝ බාහිර වශයෙන් හෝ පවත්නා බොජ්ඣඞ්ග ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

## සමුදයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති වයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති සමුදයවයධම්මානුපස්සී වා ධම්මෙසු විහරති

ධර්මයන් කෙරෙහි උත්පත්ති ස්වභාවය අනුව බලමින් වාසය කරයි. ධර්මයන් කෙරෙහි විනාශ වන ස්වභාවය අනුව බලමින් වාසය කරයි. ධර්මයන් කෙරෙහි උත්පත්ති සහ විනාශ වන ස්වභාවයන් අනුව බලමින් වාසය කරයි.

## අත්ථි ධම්මා ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සතිමත්තාය අනිස්සිතො ච විහරති න ච කිඤ්චි ලොකෙ උපාදියති

ඔහුට ධර්මයන් ඇත යන සිහිය එළඹ සිටී. (ඒ සිහිය) හුදෙක් නුවණ දියුණු කිරීම සඳහා ද සිහිය වැඩීම සඳහා ද පවතී. ඔහු තණ්හා දිට්ඨි දෙකෙන් දුරුව වාසය කරයි. ඔහු ලෝකයෙහි (රූපාදී) කිසිවක් (ආත්මාදී වශයෙන්) අල්වා නොගනී.

## එවම්පි ඛො භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති සත්තසු බොජ්ඣඞ්ගෙසු

මහණෙනි, මෙසේ ද මහණ තෙම සත්ත බොජ්ඣඞ්ග ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

## චතුරාර්‍ය්‍ය සත්‍යය

### පුන ච පරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසු

මහණෙනි, මහණතෙම නැවත ද චතුරාර්‍ය්‍ය සත්‍ය ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

### කථඤ්ච භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසු

මහණෙනි, කෙසේ නම් මහණතෙම චතුරාර්‍ය්‍ය සත්‍ය ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි ද?

### ඉධ භික්ඛවෙ භික්ඛු ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති

මහණෙනි, මේ සස්නෙහි මහණතෙම මෙය දුක්ඛ සත්‍යය යයි ඇති සැටියෙන් දැනගනී.

### අයං දුක්ඛසමුදයො ති යථාභූතං පජානාති

මෙය දුක්ඛ සමුදය සත්‍යය යයි ඇති සැටියෙන් දැනගනී.

### අයං දුක්ඛනිරොධොති යථාභූතං පජානාති

මෙය දුක්ඛ නිරෝධ සත්‍යය යයි ඇති සැටියෙන් දැනගනී.

### අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා ති යථාභූතං පජානාති

මෙය දුක්ඛ නිරෝධ ගාමිනීපටිපදා සත්‍යය යයි ඇති සැටියෙන් දැනගනී.

## දුක්ඛ සත්‍ය

### කතමඤ්ච භික්ඛවෙ දුක්ඛං අරියසච්චං

මහණෙනි දුක්ඛායි සත්‍යය නම් කවරේ ද?

### ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, මරණම්පි දුක්ඛං, සොකපරිදෙවදුක්ඛදොමනස්සුපායාසාපි දුක්ඛා, අප්පියෙහි සම්පයොගො දුක්ඛො, පියෙහි විප්පයොගො දුක්ඛො, යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං, සඞ්ඛිත්තෙන පඤ්චූපාදානක්ඛන්ධා දුක්ඛා.

ඉපදීම දුකකි. මහලු වීම දුකකි. මරණය දුකකි. සෝක වීම, වැළපීම, කායික දුක දොම්නස සහ දැඩි ආයාසය යන මේවා දුක් වන්නේය. අප්‍රියයන් හා එක් වීම දුකකි. ප්‍රියයන්ගෙන් වෙන්වීම ද දුකකි. තමන් කැමති දේ නොලැබේ නම් එය ද දුකකි. කෙටියෙන් කිවහොත් දැඩිව අල්වා ගන්නා ලද පඤ්චස්කන්ධයම දුකකි.

### කතමා ච භික්ඛවෙ ජාති ?

මහණෙනි, ජාතිය හෙවත් ඉපදීම යනු කුමක් ද?

### යා තෙසං තෙසං සත්තානං තම්හි තම්හි සත්තනිකායෙ ජාති සඤ්ජාති ඔක්කන්ති නිබ්බත්ති අභිනිබ්බත්ති ඛන්ධානං පාතුභාවො ආයතනානං පටිලාභො

ඒ ඒ සත්වයන්ගේ ඒ ඒ සත්ව කොට්ඨාශ වල යම් ඉපදීමක් හෝ හටගැනීමක් හෝ බැසගැනීමක් හෝ උත්පත්තියක් හෝ විශේෂ උත්පත්තියක් හෝ පඤ්චස්කන්ධයන් ගේ

පහළ වීමක් හෝ ඇස කණ ආදී ආයතනයන් ගේ ලැබීමක් හෝ වේ නම්,

**අයං වුච්චති භික්ඛවෙ ජාති**

මහණෙනි, මෙය ඉපදීම යයි කියනු ලැබේ.

**කතමා ච භික්ඛවෙ ජරා ?**

මහණෙනි, ජරාව හෙවත් මහලු වීම යනු කුමක් ද?

**යා තෙසං තෙසං සත්තානං තම්හි තම්හි සත්තනිකායෙ ජරා ජීරණතා ඛණ්ඩිච්චං පාලිච්චං වලිත්තචතා ආයුනො සංහානි ඉන්ද්‍රියානං පරිපාකො**

ඒ ඒ සත්වයන් ගේ ඒ ඒ සත්ව කොට්ඨාශ වල යම් බඳු ජරාවක්, දිරන බවක්, දත් ආදිය කැඩී යාමක්, කෙස් ලොම් පැසීමක්, ඇඟ රැලි වැටීමක්, ආයුෂ පිරිහීමක්, හෝ ඉඳුරන් මුහුකුරා යාමක් වේ නම්,

**අයං වුච්චති භික්ඛවෙ ජරා**

මහණෙනි, මෙය ජරාව යයි කියනු ලැබේ.

**කතමඤ්ච භික්ඛවෙ මරණං ?**

මහණෙනි, මරණය යනු කුමක් ද?

**යං තෙසං තෙසං සත්තානං තම්හා තම්හා සත්තනිකායා චුති චවනතා භෙදො අන්තරධානං මච්චු මරණං කාලකිරියා ඛන්ධානං භෙදො කළෙබරස්ස නික්ඛෙපො ජීවිතින්ද්‍රියස්සඋපච්ඡෙදො**

ඒ ඒ සත්වයන් ගේ ඒ ඒ සත්ව කොට්ඨාශ වලින් යම් චුත වීමක්, චුත වන බවක්, බිඳීයාමක්, අතුරුදහන් වීමක්, මරණයක්, කළුරිය කිරීමක්, අභාවයක් වේ ද, පඤ්චස්කන්ධයන් ගේ බිඳීමක් වේ ද, සිරුර අත්හැර දමා යාමක් වේ ද, ජීවිතින්ද්‍රිය රූපයෙහි යම් සිඳීයාමක් වේ ද,

## ඉදං වුච්චති භික්ඛවෙ මරණං

මහණෙනි, මෙය මරණය යයි කියනු ලැබේ.

## කතමො ච භික්ඛවෙ සොකො ?

මහණෙනි, සෝකය යනු කුමක් ද?

## යො ඛො භික්ඛවෙ අඤ්ඤතරඤ්ඤතරෙන බ්‍යසනෙන සමන්නාගතස්ස අඤ්ඤතරඤ්ඤතරෙන දුක්ඛධම්මෙන ඵුට්ඨස්ස සොකො සොචනා සොචිතත්තං අන්තොසොකො අන්තොපරිසොකො

මහණෙනි, (නෑයන් නැතිවීම ආදී) යම් යම් ව්‍යසන නිසා හෝ දුකට හේතු වූ යම් යම් කරුණු එළඹීම නිසා හෝ සිතේ ඇති වන ශෝකයක්, ශෝක කරන ආකාරයක්, ශෝක කරන බවක් වේ ද, ශරීරය ඇතුලත වියලෙන ආකාර වූ ශෝක කිරීමක් වේ ද, විශේෂයෙන් ඇතුලත වියලෙන බවක් වේ ද,

## අයං වුච්චති භික්ඛවෙ සොකො

මහණෙනි, මෙය ශෝක යයි කියනු ලැබේ.

## කතමො ච භික්ඛවෙ පරිදෙවො ?

මහණෙනි, වැළපීම යනු කුමක් ද?

**යො ඛො භික්ඛවෙ අඤ්ඤතරඤ්ඤතරෙන ඛ්‍යසනෙන සමන්නාගතස්ස අඤ්ඤතරඤ්ඤතරෙන දුක්ඛධම්මෙන ඵුට්ඨස්ස ආදෙවො පරිදෙවො ආදෙවනා පරිදෙවනා ආදෙවිතත්තං පරිදෙවිතත්තං**

මහණෙනි, යම් යම් ව්‍යසනයක් නිසා හෝ දුකට හේතු වූ කරුණු එළඹීමෙන් හෝ ඇති වන හැඬීමක්, වැළපීමක්, හැඬීම් ක්‍රියාවක්, වැළපීම් ක්‍රියාවක්, නම් කියා හඬන බවක් වේ ද, ගුණ වර්ණනා කොට වළප්නා බවක් වේ නම්,

**අයං වුච්චති භික්ඛවෙ පරිදෙවො**

මෙය මහණෙනි, වැළපීම යයි කියනු ලැබේ.

**කතමඤ්ච භික්ඛවෙ දුක්ඛං ?**

මහණෙනි, (කායික) දුක නම් කවරේ ද?

**යං ඛො භික්ඛවෙ කායිකං දුක්ඛං කායිකං අසාතං කායසම්ඵස්සජං දුක්ඛං අසාතං වෙදයිතං**

මහණෙනි, කයෙහි හටගත් යම් දුකක් වේ ද, කයෙහි හටගත් අමිහිරි බවක් වේ ද, කය අමිහිරි දෙයක ගැටීමෙන් උපන්නා වූ දුක්ගෙන දෙන අප්‍රිය වේදනාවක් වේ ද,

**ඉදං වුච්චති භික්ඛවෙ දුක්ඛං**

මහණෙනි, මෙය (කායික) දුක යයි කියනු ලැබේ.

**කතමඤ්ච භික්ඛවෙ දොමනස්සං ?**

මහණෙනි, දොම්නස යනු කුමක් ද?

**යං ඛො භික්ඛවෙ චෙතසිකං දුක්ඛං චෙතසිකං අසාතං මනොසම්ඵස්සජං දුක්ඛං අසාතං වෙදයිතං**

මහණෙනි, යම් බඳු සිත පිළිබඳ දුකක් වේ ද අමිහිරි බවක් වේ ද, සිත යම් අරමුණක ගැටීමෙන් හට ගත්තා වූ දුක් සහගත වූ අප්‍රිය වූ වේදනාවක් වේ නම්,

**ඉදං වුච්චති භික්ඛවෙ දොමනස්සං**

මහණෙනි, මෙය දොම්නස යයි කියනු ලැබේ.

**කතමො ච භික්ඛවෙ උපායාසො ?**

මහණෙනි, උපායාසය යනු කුමක් ද?

**යො ඛො භික්ඛවෙ අඤ්ඤතරඤ්ඤතරෙන බ්‍යසනෙන සමන්නාගතස්ස අඤ්ඤතරඤ්ඤතරෙන දුක්ඛධම්මෙන ඵුට්ඨස්ස ආයාසො උපායාසො ආයාසිතත්තං උපායාසිතත්තං**

මහණෙනි, යම් බඳු ව්‍යසනයකින් පෙළුනා වූ හෝ දුකට හේතුවන කරුණක් එළඹීමෙන් යමෙකුගේ සිතෙහි ඇතිවන ආයාසයක් (චිත්ත පීඩාවක්) උපායාසයක් (බලවත් චිත්ත පීඩාවක්) චිත්ත පීඩා ස්වභාවයක්, සිතේ වෙහෙසුණ බවක් වේ නම්,

**අයං වුච්චති භික්ඛවෙ උපායාසො**

මහණෙනි, මෙය උපායාස යයි කියනු ලැබේ.

**කතමො ච භික්ඛවෙ අප්පියෙහි සම්පයොගො දුක්ඛො ?**

මහණෙනි, අප්‍රියයන් හා එක්වීමේ දුක යනු කුමක් ද?

**ඉධ යස්ස තෙ හොන්ති  අනිට්ඨා අකන්තා අමනාපා රූපා සද්දා ගන්ධා රසා ඵොට්ඨබ්බා ධම්මා**

මහණෙනි, මේ ලෝකයෙහි යමෙකුට අයහපත් වූ අප්‍රිය වූ සිත් නොගන්නා වූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්මාරම්මණ යන මේවා වේද,

**යෙ වා පනස්ස තෙ හොන්ති අනත්ථකාමා අහිතකාමා අඵාසුකාමා අයොගක්ඛෙමකාමා යා තෙහි සද්ධිං සඞ්ගති සමාගමො සමොධානං මිස්සීභාවො**

ඔහුට අවැඩ කැමැති වූ අහිතවත් වූ අපහසු කම් කරන්නා වූ ඔහුගේ අනාරක්‍ෂති බව දැකීමට කැමති වූ පුද්ගලයන් හෝ සමග, ඒ දේ හා පුද්ගලයින් සමග යම් බඳු භජනයක් සමාගමයක් එක්වීමක් හෝ මිශ්‍රවීමක් වේ නම්,

**අයං වුච්චති භික්ඛවෙ අප්පියෙහි සම්පයොගො දුක්ඛො**

මහණෙනි, මෙය අප්‍රියයන් හා එක්වීමේ දුක යයි කියනු ලැබේ.

**කතමො ච භික්ඛවෙ පියෙහි විප්පයොගො දුක්ඛො?**

මහණෙනි, ප්‍රියයන්ගෙන් වෙන්වීමේ දුක යනු කුමක් ද?

**ඉධ භික්ඛවෙ යස්ස තෙ හොන්ති ඉට්ඨා කන්තා මනාපා රූපා සද්දා ගන්ධා රසා ඵොට්ඨබ්බා ධම්මා**

මහණෙනි, මේ ලෝකයෙහි යමෙකුට යහපත් වූ ප්‍රිය වූ සිත් ගන්නා වූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්මාරම්මණ යන මේ වස්තු වේද,

**යෙ වා පනස්ස තෙ හොන්ති අත්ථකාමා හිතකාමා ඵාසුකාමා යොගක්ඛෙමකාමා මාතා වා පිතා වා භාතා වා භගිනී වා මිත්තා වා අමච්චා වා ඤාතිසාලොහිතා වා යා තෙහි සද්ධිං අසඞ්ගති අසමාගමො අසමොධානං අමිස්සීභාවො**

තමහට වැඩ කැමැති, හිත කැමති, පහසුකම් සැපයීමට කැමති, ඔහුගේ ආරක්ෂිත බව දැකීමට රිසිවූ, මව හෝ පියා හෝ, සොහොයුරා හෝ සොහොයුරිය හෝ යහළුවෝ හෝ මිත්‍රයෝ හෝ නෑයෝ හෝ සහලේ නෑයෝ හෝ (යන මොවුහු වෙත්ද) ඒ වස්තු හා පුද්ගලයන් සමග යම් බඳු භජනයක් සමාගමයක් එක්වීමක්, හෝ මිශ්‍රවීමක් සිදු නොවේ නම්,

**අයං වුච්චති භික්ඛවෙ පියෙහි විප්පයොගො දුක්ඛො**

මහණෙනි, මෙය ප්‍රියයන්ගෙන් වීමේ දුක යයි කියනු ලැබේ.

**කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං ?**

මහණෙනි, කැමැති වූ යමක් නොලැබීමේ දුක යනු කුමක් ද?

**ජාති ධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති අහො වත මයං න ජාතිධම්මා අස්සාම න ච වත නො ජාති ආගච්ඡෙය්‍යා ති න ඛො**

**පනෙතං ඉච්ඡාය පත්තබ්බං ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං**

මහණෙනි, ඉපදීම ස්වභාව කොට ඇති සත්වයන්ට මෙබඳු ආශාවක් උපදී. අපි ඉපදීම ස්වභාවකොට ඇති අය නොවන්නෙමු නම් (එය) ඉතා යෙහෙක.

ඒකාන්තයෙන් ඉපැදීම අපට නොපැමිණේ නම් ඉතා යෙහෙක (කියායි.) මේ කරුණු කැමැත්තෙන් ලැබිය හැකි දෙයක් නොවේ. මෙය ද කැමති දේ නොලැබීමෙන් ඇතිවන දුකකි.

**ජරාධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති අහො වත මයං න ජරාධම්මා අස්සාම න ච වත නො ජරා ආගච්ඡෙය්‍යාති න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං**

මහණෙනි, මහලු වීම ස්වභාව කොට ඇත්තා වූ සත්වයන්ට මෙබඳු ආශාවක් උපදී. අපි මහලු වීම ස්වභාව කොට ඇති අය නොවන්නෙමු නම් ඉතා යෙහෙක.

ඒකාන්තයෙන් අප කරා මහලු බව නොඑන්නේ නම් ඉතා යෙහෙක (කියායි.) (එහෙත්)මේ කරුණ කැමැත්තෙන් ලැබිය හැකි දෙයක් නොවේ. මෙය ද කැමති දෙය නොලැබීමේ දුකකි.

**ව්‍යාධිධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති අහො වත මයං න ව්‍යාධිධම්මා අස්සාම න ච වත නො ව්‍යාධි ආගච්ඡෙය්‍යාති න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං**

මහණෙනි, ලෙඩ රෝග වැළදීම ස්වභාව කොට ඇති සත්වයන්ට මෙබඳු ආශාවක් උපදී. අපි ලෙඩ රෝග වැළදීම ස්වභාව කොට ඇති අය නොවන්නෙමු නම් ඉතා යෙහෙක.

අප කරා ලෙඩ රෝග නොපැමිණේ නම් ඉතා යෙහෙක (කියායි.) (එහෙත්)මේ මෙය කැමැත්තෙන් ලැබිය හැකි දෙයක් නොවේ. මෙය ද කැමති දෙය නොලැබීමේ දුකකි.

**මරණධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති අහො වත මයං න මරණධම්මා අස්සාම න ච වත නො මරණං ආගච්ඡෙය්‍යාති න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං**

මහණෙනි, මරණය ස්වභාවය කොට ඇත්තා වූ සත්වයන්ට මෙබඳු ආශාවක් උපදී. අපි මරණය ස්වභාව කොට ඇත්තෝ නොවන්නෙමු නම් ඉතා යෙහෙක.

අප කරා මරණය නොඑන්නේ නම් ඉතා යෙහෙක (කියායි.) (එහෙත්) මෙය කැමැත්තෙන් ලැබිය හැකි දෙයක් නොවේ. මෙය ද කැමති දෙය නොලැබීමේ දුකකි.

**සොකපරිදෙවදුක්ඛදොමනස්සුපායාසධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති අහො වත මයං න සොකපරිදෙව දුක්ඛ දොමනස්සුපායාසධම්මා අස්සාම න ච වත නො සොකපරිදෙව දුක්ඛදොමනස්සුපායාසධම්මා ආගච්ඡෙය්‍යන්ති න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං**

මහණෙනි, ශෝක කිරීම, වැළපීම, කායික චෛතසික දුක, දැඩි ආයාස ස්වභාව කොට ඇති සත්වයන්ට මෙබඳු ආශාවක් ඇතිවේ. අපි ශෝක කිරීම, වැළපීම, කායික චෛතසික දුක, දැඩි ආයාස ස්වභාව කොට ඇත්තෝ නොවන්නෙමු නම් ඒකාන්තයෙන් ඉතා යෙහෙක. ශෝක කිරීම, වැළපීම, කායික චෛතසික දුක, දැඩි ආයාසය අප කරා නොයේ නම් එයද ඉතා යෙහෙක කියායි. මෙය කැමැත්තෙන් ලැබිය හැකි දෙයක් නොවේ. මෙය ද කැමති දෙය නොලැබීමේ දුකකි.

## කතමෙ ච භික්ඛවෙ සඞ්ඛිත්තෙන පඤ්චූ පාදානක්ඛන්ධා දුක්ඛා සෙය්‍යථීදං ?

මහණෙනි කෙටියෙන් කවර නම් පඤ්ච උපාදානස්කන්ධ දුක් වන්නාහු ද ඒ මෙසේය.

## රූපූපාදානක්ඛන්ධො වෙදනූපාදානක්ඛන්ධො සඤ්ඤූපාදානක්ඛන්ධො සඞ්ඛාරුපාදානක්ඛන්ධො විඤ්ඤාණූපාදානක්ඛන්ධො

රූප උපාදානස්කන්ධය, වේදනා උපාදානස්කන්ධය, සඤ්ඤා උපාදානස්කන්ධය, සංඛාර උපාදානස්කන්ධය, විඤ්ඤාණ උපාදානස්කන්ධය යනුයි.

## ඉමෙ වුච්චන්ති භික්ඛවෙ සඞ්ඛිත්තෙන පඤ්චූපාදානක්ඛන්ධා දුක්ඛා

මහණෙනි කෙටියෙන් මේ උපාදානස්කන්ධ පහ දුක් යයි කියනු ලැබේ.

## ඉදං වුච්චති භික්ඛවෙ දුක්ඛං අරියසච්චං

මහණෙනි, මෙය දුක්ඛ ආර්ය සත්‍යය යයි කියනු ලැබේ.

## දුක්ඛසමුදය සත්‍යය

### කතමඤ්ච භික්ඛවෙ දුක්ඛසමුදයං අරියසච්චං

මහණෙනි දුක්ඛ සමුදයාර්ය සත්‍යය නම් කවරේ ද?

### යායං තණ්හා පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී සෙය්‍යථීදං කාමතණ්හා භවතණ්හා විභවතණ්හා

යම් තණ්හාවක් සත්වයාගේ නැවත නැවත සසර ඉපදීම ඇති කරන්නේ ද, නන්දි නම්වූ රාගය සමග එක්ව පවතී ද, ඒ ඒ ආත්මවල සහ රූපාදී අරමුණු වල ඇලේ ද, (ඒ තණ්හාව) කෙසේ ද යත්.

කාම තණ්හාව (පඤ්ච කාමය පිළිබඳ තණ්හාව). භව තණ්හාව (සත්වයා සදාකාලිකය යන ශාශ්වත දිට්ඨිය සමග බැඳුනු තණ්හාව), විභව තණ්හාව (මරණින් මතු සත්වයාගේ ඉපදීමක් නැත. යන උච්ඡේද දිට්ඨිය සමග බැඳුනු තණ්හාව) යි.

### සා ඛො පනෙසා භික්ඛවෙ තණ්හා කත්ථ උප්පජ්ජමානා උප්පජ්ජති කත්ථ නිවිසමානා නිවිසති

මහණෙනි, ඒ තණ්හාව උපදින විට කොහි උපදී ද පිහිටා සිටින විට කොහි පිහිටා සිටී ද?

**යං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ලෝකයෙහි යම් ප්‍රිය ස්වභාවයක්, මිහිරි ස්වභාවයක් වේ නම් මේ ප්‍රිය ස්වභාවයෙහි මිහිරි ස්වභාවයෙහි තණ්හාව උපදින විට උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටියි.

**කිඤ්ච ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

මේ තණ්හාව උපදින විට යම් ප්‍රිය ස්වභාවයක්, උපදී නම් පිහිටා සිටින විට යම් මිහිරි ස්වභාවයක් පිහිටා සිටී නම් ලෝකයෙහි ඒ ප්‍රිය ස්වභාවය, මිහිරි ස්වභාවය යනු කුමක් ද?

**චක්ඛුං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ඇස, ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ඇසෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**සොතං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

කණ, ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ කණෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ඝානං ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

නාසය, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ නාසයෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**ජිව්හා ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

දිව, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ දිවෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**කායො ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

කය, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ කයෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**මනො ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

සිත, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ මනසෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**රූපා ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

රූප, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ රූපයෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**සද්දා ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

ශබ්ද, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ ශබ්දයෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**ගන්ධා ලොකෙ පියරූපං සාතරූපං
එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ
නිවිසමානා නිවිසති**

ගන්ධ, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ ගන්ධයෙහි උපදී.
පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**රසා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා
උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා
නිවිසති**

රස, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව
ඇත්තකි. තණ්හාව උපදින විට මේ රසයෙහි උපදී. පිහිටා
සිටින විට මෙහි පිහිටා සිටී.

**ඵොට්ඨබ්බාලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ස්පර්ශ, ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ස්පර්ශයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ධම්මා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ධර්ම (ධර්මාරම්මණ), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ධර්මයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**චක්ඛු විඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

චක්ඛු විඤ්ඤාණය (ඇස නිසා උපදින සිත), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ චක්ඛු විඤ්ඤාණයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**සොත විඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

සෝත විඤ්ඤාණය (කණ නිසා උපදින සිත), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ

සෝත විඤ්ඤාණයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ඝාන විඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ඝාන විඤ්ඤාණය (නාසය නිසා උපදින සිත), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ඝාන විඤ්ඤාණයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ජිව්හා විඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ජිව්හා විඤ්ඤාණය (දිව නිසා උපදින සිත), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ජිව්හා විඤ්ඤාණයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**කාය විඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

කාය විඤ්ඤාණය (කය නිසා උපදින සිත), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ කාය විඤ්ඤාණයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**මනො විඤ්ඤාණං ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

මනෝ විඤ්ඤාණය (මනස නිසා උපදින සිත), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ මනෝ විඤ්ඤාණයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**චක්ඛු සම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

චක්ඛු සම්ඵස්සය (ඇස රූපයෙහි ගැටීම), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ චක්ඛු සම්ඵස්සයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**සොත සම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

සෝත සම්ඵස්සය (කණ ශබ්දයෙහි ගැටීම), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ සෝත සම්ඵස්සයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ඝාන සම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ඝාන සම්ඵස්සය (නාසය ගන්ධය හා ගැටීම), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ඝාන සම්ඵස්සයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## ජිව්හා සම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

ජිව්හා සම්ඵස්සය (දිව රසය හා ගැටීම), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ජිව්හා සම්ඵස්සයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## කාය සම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

කාය සම්ඵස්සය (කාය ස්පර්ශයෙහි ගැටීම), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ කාය සම්ඵස්සයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## මනො සම්ඵස්සො ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

මනෝ සම්ඵස්සය (මනස ධර්මය හා ගැටීම), ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ මනෝ සම්ඵස්සයෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**චක්ඛු සම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ඇස රූපය හා ගැටීමෙන් උපන් වේදනාව ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ වේදනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**සොත සම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

කණ ශබ්දය හා ගැටීමෙන් උපන් වේදනාව ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ වේදනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ඝාන සම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

නාසය ගන්ධය හා ගැටීමෙන් උපන් වේදනාව ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ වේදනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ජිව්හා සම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

දිව රසය හා ගැටීමෙන් උපන් වේදනාව ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ වේදනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## කාය සම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

කය ස්පර්ශය හා ගැටීමෙන් උපන් වේදනාව ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ වේදනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## මනො සම්ඵස්සජා වෙදනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

මනස ධර්ම හා ගැටීමෙන් උපන් වේදනාව ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ වේදනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## රූප සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

රූප සඤ්චෙතනාව (රූපය අරමුණු කොට උපන් සඤ්චෙතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ රූප සඤ්චෙතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## සද්ද සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

ශබ්ද සඤ්චෙතනාව (ශබ්දය අරමුණු කොට උපන් සඤ්චෙතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව

උපදින විට මේ ශබ්ද සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## ගන්ධ සඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

ගන්ධ සඤ්චේතනාව (ගන්ධය අරමුණු කොට උපන් සඤ්චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ගන්ධ සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## රස සඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

රස සඤ්චේතනාව (රසය අරමුණු කොට උපන් සඤ්චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ රස සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

## ඵොට්ඨබ්බ සඤ්චේතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති

ඵොට්ඨබ්බ සඤ්චේතනාව (ස්පර්ශය අරමුණු කොට උපන් සඤ්චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ඵොට්ඨබ්බ සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ධම්මසඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ධම්ම සඤ්චෙතනාව (ධර්මාරම්මණ අරමුණු කොට උපන් සඤ්චෙතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ධම්ම සඤ්චෙතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**රූප සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

රූපසඤ්චේතනාව (රූපය අරමුණු කොට උපන් චේතනාව ) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ රූපසඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**සද්ද සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ශබ්ද සඤ්චේතනාව (ශබ්දය අරමුණු කොට උපන් චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ශබ්ද සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ගන්ධ සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ගන්ධ සඤ්චේතනාව (ගන්ධය අරමුණු කොට උපන් චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ගන්ධ සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**රස සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

රස සඤ්චේතනාව (රසය අරමුණු කොට උපන් චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ රස සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ඵොට්ඨබ්බ සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ඵොට්ඨබ්බ සඤ්චේතනාව (ස්පර්ශය නිසා උපන් චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මෙම ඵොට්ඨබ්බ සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ධම්ම සඤ්චෙතනා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ධම්ම සඤ්චේතනාව (ධර්ම අරමුණු කොට උපන් චේතනාව) ලෝකයෙහි ප්‍රිය වූ මධුර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ධම්ම සඤ්චේතනාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**රූප තණ්හා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

රූප තණ්හාව (රූපය අරමුණු කොට උපන් තණ්හාව) ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ රූප තණ්හාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**සද්ද තණ්හා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

සද්ද තණ්හාව (ශබ්දය අරමුණු කොට උපන් තණ්හාව) ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ශබ්ද තණ්හාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**ගන්ධ තණ්හා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

ගන්ධ තණ්හාව (ගන්ධය අරමුණු කොට උපන් තණ්හාව) ලෝකයෙහි ප්‍රිය වූ මධූර වූ ස්වභාව ඇත්තකි. තණ්හාව උපදින විට මේ ගන්ධ තණ්හාවෙහි උපදී. පිහිටා සිටින විට මෙහි පිහිටා සිටී.

**රස තණ්හා ලොකෙ පියරූපං සාතරූපං එත්ථෙසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති එත්ථ නිවිසමානා නිවිසති**

